2497

22(2023)/23/S-II



**ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව**
**இலங்கைப் பரீட்சைத் திணைக்களம்**
**Department of Examinations, Sri Lanka**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2022(2023)
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2022(2023)
General Certificate of Education (Adv. Level) Examination, 2022(2023)

**දේශපාලන විද්‍යාව II**
அரசியல் விஞ்ஞானம் II
Political Science II

**23 S II**

**පැය තුනයි**
மூன்று மணித்தியாலம்
*Three hours*

**අමතර කියවීම් කාලය** - **මිනිත්තු 10 යි**
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

**අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත්, පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.**

**උපදෙස්:**

* මෙම ප්‍රශ්න පත්‍රය කොටස් **තුනකින්** සමන්විත ය.
* **I** කොටසින් අවම වශයෙන් **එක්** ප්‍රශ්නයක් ද, **II** කොටසින් අවම වශයෙන් ප්‍රශ්න **දෙකක්** ද, **III** කොටසින් අවම වශයෙන් **එක්** ප්‍රශ්නයක් ද වන සේ තෝරාගෙන ප්‍රශ්න **පහකට** පිළිතුරු සපයන්න.

## I කොටස

1. දේශපාලනය හැදෑරීමේ විද්‍යාත්මක ප්‍රවේශය විස්තර කරන්න. (ලකුණු 20)

2. 'දේශපාලන න්‍යාය' යනු කුමක් දැයි විස්තර කර, දේශපාලනය අධ්‍යයනය කිරීමේදී 'න්‍යාය' වැදගත් වන්නේ මන්දැයි සාකච්ඡා කරන්න. (ලකුණු 20)

3. (i) බලපෑම් කණ්ඩායම් යනු මොනවා දැයි පැහැදිලි කරන්න. (ලකුණු 10)
   (ii) අරමුණු සම්බන්ධයෙන් දේශපාලන පක්ෂ සහ බලපෑම් කණ්ඩායම් අතර ඇති වෙනස්කම් මොනවා දැයි සාකච්ඡා කරන්න. (ලකුණු 10)

## II කොටස

4. (i) ශ්‍රී ලංකාවේ 1833 කෝල්බෲක් - කැමරන් ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණවල දේශපාලන ප්‍රතිඵල කෙටියෙන් දක්වන්න. (ලකුණු 10)
   (ii) ශ්‍රී ලංකාවේ ආණ්ඩුක්‍රමය සහ දේශපාලනය ප්‍රජාතන්ත්‍රීය කිරීමට, ඩොනමෝර් ප්‍රතිසංස්කරණ විසින් සිදුකරන ලද දායකත්වය කුමක් දැයි පැහැදිලි කරන්න. (ලකුණු 10)

5. සෝල්බරි ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව අහෝසි කිරීම සඳහා තුඩුදුන් හේතු සාධක පැහැදිලි කරන්න. (ලකුණු 20)

6. සෝල්බරි ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට සාපේක්ෂව ශ්‍රී ලංකාවේ 1972 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව විසින් පාර්ලිමේන්තුව සම්බන්ධව සිදුකරන ලද ප්‍රධාන වෙනස්කම් මොනවා දැයි විස්තර කරන්න. (ලකුණු 20)

7. (i) ශ්‍රී ලංකාවේ 1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ 13 වන සංශෝධනයෙහි අරමුණු වූයේ මොනවා ද? (ලකු
   (ii) ශ්‍රී ලංකාවේ 1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ 18 වන සහ 19 වන සංශෝධනවල අරමුණු සහ ප්‍රධාන ලක්ෂණ සංසන්දනය කරන්න. (ලකු

## III කොටස

**8.** (i) ඇමෙරිකා එක්සත් ජනපදයේ සංඝීය ආණ්ඩුක්‍රමය තුළ මධ්‍යම ආණ්ඩුව සතු බලතල කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 10)

(ii) බ්‍රිතාන්‍යයේ ඒකීය ආණ්ඩුක්‍රම මාදිලිය මෑත වසරවලදී වෙනස් වී ඇති ආකාරය පෙන්වා දෙන්න. (ලකුණු 10)

**9.** (i) රාජ්‍ය ප්‍රතිපත්ති හැදෑරීම වැදගත් වන්නේ මන් ද? (ලකුණු 05)

(ii) රාජ්‍ය ප්‍රතිපත්ති ක්‍රියාවලියේදී (අ) ව්‍යවස්ථාදායකයේ, සහ (ආ) සිවිල් සමාජයේ භූමිකාව පැහැදිලි කරන්න. (ලකුණු 15)

**10.** පහත සඳහන් ඕනෑම මාතෘකා **දෙකක්** පිළිබඳ ව කෙටි සටහන් ලියන්න.

(i) ගැටුම් සමථන ක්‍රියාවලිය

(ii) ශ්‍රී ලංකාවේ විධායක ජනාධිපති ක්‍රමය පිළිබඳ විවේචන

(iii) ලෝක දේශපාලනයේ නව ප්‍රවණතා

(iv) ප්‍රජාතන්ත්‍රවාදී ආණ්ඩුකරණය සහ ශ්‍රී ලංකාවේ අත්දැකීම්

(v) ශ්‍රී ලංකාවේ විදේශ ප්‍රතිපත්තියේ මෑතකාලීන ප්‍රවණතා

(ලකුණු $10 \times 2 = 20$)

* * *